56212



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2562 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2018(2019) 4S

## (04) බෞද්ධ සංස්කෘතිය

පැ. තුනයි

2019.03.17 /12.50 - 16.00

අමතර කියවීම් කාලය -මිනිත්තු 10 යි.

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් හතරකින් සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් ප්‍රශ්න එකක් වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

1. (i) බෞද්ධ භික්ෂූන් වහන්සේගේ වස් විසීමේ චාරිත්‍රය ආරම්භ වීමට හේතු වූ කරුණු විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)
   (ii) ගිහි-පැවිදි සම්බන්ධය වර්ධනය කිරීම සඳහා වස් කාලය යොදා ගත හැකි ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iii) කඨින චීවරය හඳුන්වා, එය සකස් කිරීමේ දී අනුගමනය කෙරෙන චාරිත්‍ර විධි විස්තර කරන්න. (ලකුණු 08 යි)

2. (i) ගිහි-පැවිදි දෙපක්ෂයට ම වැදගත් වන චාරිත්‍රයක් වශයෙන් ගිලානෝපස්ථානය හඳුන්වා දීමට බුදුරදුන් අනුදැන වදාළ හේතු සාධක පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (ii) ගිලානෝපස්ථානයේ දී උපස්ථානයට යෝග්‍ය ගිලනා හා උපස්ථායකයා සතු ව තිබිය යුතු ගුණාංග විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (iii) ගිලානෝපස්ථාන සේවයෙහි යෙදුණු පැරණි ශ්‍රී ලාංකික බෞද්ධ රජවරුන් ගැන විමර්ශනයක් කරන්න. (ලකුණු 08 යි)

3. (i) පෙරහැර යනු කුමක් දැයි හඳුන්වා, පෙරහැරක තිබිය යුතු මූලික අංගෝපාංග කවරේ දැයි පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (ii) ලක්දිව දළදා පෙරහැරේ ආරම්භය හා වර්ධනය පිළිබඳ විමසීමක් කරන්න. (ලකුණු 06 යි)
   (iii) බෞද්ධ උත්සවයක් මෙන් ම සංස්කෘතික සන්දර්ශනයක් වශයෙන් ද මහනුවර ඇසළ පෙරහැරෙහි පවත්නා වැදගත්කම පහදන්න. (ලකුණු 08 යි)

## II කොටස

4. (i) බුදුරදුන් ජීවමාන ව වැඩසිටිය දී ම ස්තූප නිර්මාණය ආරම්භ වූ බව තහවුරු කළ හැකි සාධක ගෙනහැර දක්වන්න. (ලකුණු 06 යි)
   (ii) උපෝසථාගාර යනු කුමක් දැයි හඳුන්වා, පැරණි උපෝසථාගාර දෙකක් පිළිබඳ විස්තර සපයන්න. (ලකුණු 06 යි)
   (iii) අනුරාධපුරයේ දක්නට ලැබෙන විශාල චෛත්‍ය හඳුන්වා, ඒවා ඉදි කළ නරපතියන් පිළිබඳ විස්තරයක් කරන්න. (ලකුණු 08 යි)

[ දෙවැනි පිටුව බලන්න.

5. (i) බෝධිඝරය හඳුන්වා, දැනට ශ්‍රී ලංකාවේ අවශිෂ්ට ව පවත්නා පැරණි බෝධිඝරයක් පිළිබඳ විස්තර කරන්න. (ලකුණු 06 යි)

(ii) පොළොන්නරුවේ අටදාගෙය හා හැටදාගෙය හඳුන්වා, ඒවා තැන වූ රජවරුන් හා ඔවුන්ගේ අරමුණු පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iii) ගිරිපිළිම යනු කවරේ දැයි හඳුන්වා, ඔබට අභිමත ශ්‍රී ලාංකේය පැරණි ගිරිපිළිම දෙකක් පිළිබඳ විස්තර කරන්න. (ලකුණු 08 යි)

## III කොටස

6. (i) නව අරහාදි බුදුගුණ මුල් කොට ගෙන පැරණි ගද්‍ය ග්‍රන්ථ ලියූ කතුවරුන් හා ඔවුන්ගේ කෘතීන්හි අන්තර්ගත බුදුගුණ පිළිබඳ ව විස්තර කරන්න. (ලකුණු 06 යි)

(ii) තෙරුවන් ගුණ පාදක කොට රචිත පැරණි ගද්‍ය කාව්‍ය තුන හඳුන්වා, ඒවායේ කතුවරයා ද නම් කරන්න. (ලකුණු 06 යි)

(iii) ජාතක කථා රචනයේ දී අනුගමනය කළ මූලික ආකෘතියෙහි අන්තර්ගත කොටස් සනිදර්ශන ව පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

7. (i) 'කව්සිළුමිණ' හා 'කාව්‍යශේඛර' යන කාව්‍ය සඳහා පාදක කොට ගත් ජාතක කථා නම් කොට, මේ කාව්‍යයන්හි නිරූපිත කාන්තා චරිතවල ස්වභාවය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(ii) ගුත්තිල කාව්‍යය, දහම්සොඬ කාව්‍යය හා සඳකිඳුරු දා කව ලියූ කතුවරුන් නම් කර, ඒවායේ වස්තු විෂය කෙටියෙන් සඳහන් කරන්න. (ලකුණු 06 යි)

(iii) පොදු පාඨක ජනතාව අතර තුන්සරණය ජනප්‍රිය වීමට හේතු වූ සාධක කවරේ දැයි පිරික්සන්න. (ලකුණු 08 යි)

## IV කොටස

8. (i) දහඅට වන සියවසේ මියන්මාර (බුරුම) භික්ෂූන් අතර මතභේදයට පාත්‍ර වූ පාරුපණ වාදය කුමක් දැයි හඳුන්වන්න. (ලකුණු 06 යි)

(ii) දහනව වන සියවසේ දී ලක්දිව අමරපුර නිකාය පිහිටුවීමට හේතු වූ කරුණු දක්වා, ඒ සඳහා මූලික වූ ගිහි-පැවිදි පිරිස ගැන විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)

(iii) මියන්මාරයේ (බුරුමයේ) පවත්වන ලද පංචම හා ඡට්ඨ යන සංගායනා ගැන සමාලෝචනයක් කරන්න. (ලකුණු 08 යි)

9. (i) තායි බෞද්ධයන් පැවිදි ජීවිතයට ඇතුළත් වීම කෙරෙහි බලපාන විවිධ හේතු කවරේ දැයි විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)

(ii) තායිලන්තයේ බුදුදහම හා රජය අතර පවත්නා සමීප සබඳතාවේ ස්වරූපය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iii) චීනයට බුදුදහම හඳුන්වා දීම ආශ්‍රිත ව පවත්නා මතවාද විමර්ශනය කරන්න. (ලකුණු 08 යි)

❋❋❋